


සැබැවින් ම මම ඔබට කියමි, මේ
ශුභාරංචිය ලොව පුරා කොතැනක
ප්‍රකාශ කරනු ලැබේ ද, ඇය කළ
මෙය ද ඇය සිහි කිරීම සඳහා
ප්‍රකාශ කරනු ලැබේ. මාක් 14:9

අප සම්පූර්ණයෙන් අවබෝධ කරගත යුතු සත්‍ය හතරක් ඇත.

## 1 දෙවියන් ඔබට ආදරයයි.

දෙවියන් වහන්සේ ලෝකයාට කොතරම් ප්‍රේම කළ සේක් ද කීවොත්, ස්වකීය ඒක ජාතක පුත්‍රයාණන් වුව ද ලොවට දෙවා වදාළ සේක. එසේ කෙළේ, උන් වහන්සේ කෙරෙහි අදහන සියලු දෙනා ම විනාශ නොවී සදාතන ජීවනය ලබන පිණිස ය. ශුද්ධවර ජොහන් 3:16
සොරා එන්නේ සොරකම් කරන්නටත්, මරන්නටත්, විනාශ කරන්නටත් පමණකි. මා පැමිණියේ ඔවුන් හට ජීවනය ලැබෙන පිණිස ය. සපුරා ම එය ලැබෙන පිණිස ය. ශුද්ධවර ජොහන් 10:10

## 2 මිනිසා ස්වභාවයෙන්ම පව්කාරයෙකි. එබැවින් ඔහු දෙවියන් වහන්සේගෙන් වෙන් වී ඇත.

සියල්ලෝ ම පව් කොට දෙවියන් වහන්සේගේ ගැළවීමේ මාර්ගයෙන් ඉවත් වී සිටිති. රෝම 3:23 පාපයේ විපාකය මරණය යි, එහෙත් දෙවියන් වහන්සේගේ දීමනාව නම් අපගේ ස්වාමීන් වන ක්‍රිස්තුස් ජේසුස් වහන්සේ තුළ සදාතන ජීවනය යි. රෝම 6:23 එහෙත් බියසුල්ලෝ ද අවිශ්වාසිකයෝ ද දුරාචාරීහු ද මිනී මරන්නෝ ද කාමමිථ්‍යාචාරීහු ද අනවින කරන්නෝ ද රූප වඳින්නෝ ද සියලු ආකාර මුසාවාදීහු ද ගින්නෙන් හා ගෙන්දගමින් දැවෙන විලෙහි තමන්ගේ විපාකය ලබන්නෝ ය. එය දෙ වන මරණය යි මට වදාළ සේක. එළිදරව්ව 21:8

## 3 ස්වර්ගයට යන එකම මාර්ගය යේසුස් ක්‍රිස්තුස්.

ජේසුස් වහන්සේ පිළිතුරු දෙමින්, "මාර්ගය ද සත්‍යය ද ජීවනය ද මම වෙමි; මා මඟින් මිස කිසිවෙක් පියාණන් වහන්සේ වෙත නොපැමිණෙන්නෝ ය. ශුද්ධවර ජොහන් 14:6
ක්‍රිස්තුන් වහන්සේ ඔබේ පව් උදෙසා වරක් දිවි පිදූ සේක. උන් වහන්සේ ධර්මිෂ්ඨ ව සිටි නමුත් දෙවියන් වහන්සේ වෙතට ඔබ පමුණුවන පිණිස අධර්මිෂ්ඨයන් වෙනුවෙන් දිවි පිදූ සේක. උන් වහන්සේ මනුෂ්‍ය ස්වභාවයෙන් මරණයට පත් කරනු ලැබූ සේක; ආත්මික ස්වභාවයෙන් උත්ථාන කරනු ලැබූ සේක. 1 පේදුරු 3:18
යමෙක් පුත්‍රයාණන් අදහන්නේ ද ඔහුට සදාතන ජීවනය ඇත. එහෙත් යමෙක් පුත්‍රයාණන් ප්‍රතික්ෂේප කරන්නේ ද ඔහුට ජීවනය නොලැබේ. දේව උදහස ඔහු පිට රඳා පවතී යි. ශුද්ධවර ජොහන් 3:36

## 4 අපගේ ගැලවීම සඳහා අපගේ ඇදහිල්ල ස්වාමීන් වන යේසුස් ක්‍රිස්තුස් වහන්සේ තුළ තැබිය යුතුය.

ඔබ ගැළවී සිටින්නේ දේව වරප්‍රසාදය මඟින් වූ ඇදහීම කරණකොටගෙන ය. එය ඔබගේ ම ක්‍රියාවක් නොව, දෙවියන් වහන්සේගේ දීමනාව ය. ගැළවීම පුණ්‍ය ක්‍රියාවල ප්‍රතිඵලයක් නොවන බැවින්, කිසිවෙකුට පාරට්ටුවට ඉඩක් නැත. එපීස  2:8-9

ඇදහිල්ලෙන් දෙවියන් වහන්සේට මෙම යාච්ඤාව කියන්න: ජේසු සමිඳුනි, ඔබ මා කෙරෙහි දක්වන මහත් ප්‍රේමයට බොහෝම ස්තුතියි. මම පව්කාරයෙක් බව පාපොච්චාරණය කරන අතර මම සමාව ඉල්ලා සිටිමි. මාගේ පාපයට වන්දි ගෙවීම සඳහා කුරුසියේ මිය යාම ගැන ඔබට ස්තුතියි. ඔබගේ මළවුන්ගෙන් උත්ථානය ගැන මම විශ්වාස කරමි. මෙතැන් සිට, මම ඔබ මාගේ ස්වාමියා සහ ගැලවුම්කරුවා ලෙස විශ්වාස කරමි. මම ඔබේ සදාකාල ජීවන තෑග්ග පිළිගෙන මගේ ජීවිතය ඔබට භාර කරමි. ඔබගේ ආඥා පිළිපැදීමටත් ඔබ ඉදිරියෙහි ප්‍රසන්න වීමටත් මට උපකාර කළ මැනව. ආමෙන්.

පුත්‍රයාණන් වහන්සේ දැක උන් වහන්සේ අදහාගන්නා හැම කෙනෙකු ම සදාතන ජීවනය ලැබීම මාගේ පියාණන් වහන්සේගේ කැමැත්ත ය. මම ද අන්තිම දවසේ දී ඔවුන් උත්ථාන කරන්නෙමි යි වදාළ සේක. ශුද්ධවර ජොහන් 6:40
අන්ධකාරයේ බලයෙන් අප මුදා, තම ප්‍රේමාන්විත පුත්‍රයාණන්ගේ රාජ්‍යයට අප පැමිණෙව්වේ උන් වහන්සේ ය. උන් වහන්සේ විමුක්තිය ද පව් කමාව ද අපට ප්‍රදානය කළ සේක. කොලොස්සි 1:13-14
එසේ වුව ද උන් වහන්සේ පිළිගත් සියල්ලන්ට එනම්, උන් වහන්සේගේ නාමය අදහාගත් අයට, දෙවියන් වහන්සේගේ දරුවන් ලෙස උපත ලැබීමේ වරම උන් වහන්සේ දෙවා වදාළ සේක. ශුද්ධවර ජොහන් 1:12